# වෙසක් සඳ

# බැස ගියා...

ලෙල දුන් කුඩු කොඩි වැල් සැරසිලි ආදී
සුළඟින් පොදින් තෙමිලා ඉරීලා සේදී
පෙළකින් පහන් කර වූ නෙක නෙක විදී
කලකින් වැසී ඇත ලෝ තතු පහදා දී

මුල් වී වෙසක් තුන් ලොව දිනූ මුනිඳු ගැන
ලොල් වී බැතින් සිත් සැරසිලි කෙරුව තැන
දැල් වූ පහන් සිළු අඟුරුව නිවුනු මෙන
වල් වී පෙනෙත් පෙර සිරි ලෝ දහම කින

මලින් වට්ටි පුරවා සුදු වතින් වෙලී
පෙළින් පෙළ සැදී හද මෙත් ගඟින් ගිලී
තෙලින් පැනින් පිදූ සිත් නෙක බැතින් ඇලී
කලින් දුටු එසිරි ඇත හදවතින් හැලී

තැනින් තැන ඇසුණු බැති ගීවල නාදේ
සැණින් ගොළුව යළි ලෝකය ගැන වාදේ
දණින් නැමී පෝ දවසෙම කළ කී දේ
වෙනින් අත දුවයි ගැලවුණු ලෙස රෝදේ

එදා වෙසක් සඳ බැබලුණු අහස් කුස
මෙදා දහස් ගුණයෙන් නැත ගිහින් බැස
වදා මහත් පින්කම් කළ වෙසක් රස
සදා නොමැත ඇවිදින් ගිය දෙයක් මිස

දනට පිනට යොමු වුණු සිත් නොවුණු මඳ
සැමට ඇරයුමින් පෙන්වුණු පිරුණු හද
බණට සවන් යොමු කර සිටි අයුරු සොඳ
දිනට වෙසක් පමණද අන් දිනද වෙද ?

වසරක වෙසක් මාසේ එන සැණකෙළිය
හිස සිට පතුළ තෙක් දන් දෙයි නැත මැළිය
මසකට වඩා දිගු නැති බැති සිත් එළිය
බැස යන විටදී එන්නේ තුන් දොස් දැලිය

වෙසඟේ වුවත් ඇති සැරසිලි මෙලෙස දැක
ඇස යොමු කළොත් නිවනට තතු දැකිය හැක
පසටම දිරා යන මේ සැරසිලිද නෙක
තොස නැත ගෙනෙන වැනසෙන විට දෙවන දුක



පබැඳුම - හිහිඳු චන්දන සිරිවර්ධන